8697



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2558 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2014 (2015)**



**(02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය**

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් **එක්** ප්‍රශ්නයක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (අ) ආර්ය අෂ්ටාංගික මාර්ගය අන්තර්ගත ආර්ය සත්‍යයේ නම ලියන්න. *(ලකුණු 02 යි)*

   (ආ) නිර්වාණාවබෝධය සඳහා අනුගමනය කළ යුතු මාර්ගය මධ්‍යම ප්‍රතිපදාව නමින් හැඳින්වෙයි. එය එසේ හැඳින්වීමට හේතුව කවරේදැයි පහදන්න. *(ලකුණු 04 යි)*

   (ඉ) එම මධ්‍යම ප්‍රතිපදා ප්‍රතිපත්තිය අනුගමනය කිරීමෙන් ලැබෙන විශේෂ ප්‍රතිලාභවලින් තුනක් නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ඊ) ලෞකික මෙන්ම ලෝකෝත්තර යහපත සලසා ගැනීමට සම්මා දිට්ඨිය හෝ සම්මා සංකප්පය උපකාරී වන අයුරු පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

2. (අ) කර්මයට අදාළ විපාක ලැබෙන අවස්ථා හතර නම් කරන්න. *(ලකුණු 02 යි)*

   (ආ) ඒවායින් දෙකක් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*

   (ඉ) බුදුදහමට අනුව කර්ම යනු කුමක්දැයි පහදා, කර්මක්ෂය කළ උතුමෝ කවරහුදැයි පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

   (ඊ) යහපත්, අයහපත් කර්ම බීජ රැස් කිරීම නිසා ජීවිතයක් සරු හෝ නිසරුවන අයුරු පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

3. (අ) අනිත්‍ය, දුක්ඛ, අනාත්ම යන මේ ධර්ම පදයන්ගේ විරුද්ධාර්ථ පද දක්වන්න. *(ලකුණු 02 යි)*

   (ආ) ත්‍රි ලක්ෂණය මගින් විශේෂයෙන් අවබෝධ කර ගත යුතු මාර්ගය කවරේදැයි පෙන්වා දෙන්න. *(ලකුණු 04 යි)*

   (ඉ) එකී මාර්ගයට පාදකවන බෞද්ධ භාවනාවේ නම දක්වා, ත්‍රි ලක්ෂණාවබෝධය ලබා ගත් පුද්ගලයා, ලබා ගැනීමට උත්සාහ කරන ඥාණ තුන නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ඊ) පුද්ගල හා සමාජ ගැටුම්කාරී ස්වභාවයන් අවම කර ගැනීමට ත්‍රි ලක්ෂණය උපයෝගී කර ගත හැකි ආකාරය පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

4. (අ) පටිච්චසමුප්පාදය හඳුන්වන සමාන වචනයක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 02 යි)*

   (ආ) පටිච්චසමුප්පාද න්‍යායෙන් ප්‍රතික්ෂේප වන වාද හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

   (ඉ) පටිච්චසමුප්පාද ධර්මය ඉදිරිපත් කරන කෙටි සූත්‍ර න්‍යාය ලියා උදාහරණයක් සමග එය සසඳන්න. *(ලකුණු 06 යි)*

   (ඊ) හේතුව නැති කිරීමෙන් ඵලය ද නැතිවෙන ආකාරය පටිච්චසමුප්පාද ධර්මයෙන් පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

[ දෙවන පිටුව බලන්න.

## II කොටස

5. (අ) බුදුදහමෙහි භාවනා යන පදය හඳුන්වා දී ඇති ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 02 යි)*

(ආ) සමථ භාවනාවට අයත් චතු බ්‍රහ්ම විහාර නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ඉ) සමථ භාවනාවෙන් යටපත් කරන නීවරණ ධර්ම පාලියෙන් දක්වා, මේවායින් ක්‍රෝධය, වෛරය සඳහා අදාළවන නීවරණය දක්වන්න. *(ලකුණු 06 යි)*

(ඊ) සමථ භාවනාවෙන් ලබා ගත හැකි ඉහළම ප්‍රතිඵලය පෙන්වා දී, නීවරණ ධර්මයන්ගෙන් සිත පිරිසිදු කර ගැනීම නිසා, මානසික නීරෝගිතාව සලසා ගත හැකි අයුරු පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

6. (අ) චෛතසික ලක්‍ෂණ හතර දක්වන්න. *(ලකුණු 02 යි)*

(ආ) චෛතසිකයන්ගේ ප්‍රධාන බෙදීම් සංඛ්‍යා සමග ඉදිරිපත් කරන්න. *(ලකුණු 04 යි)*

(ඉ) ප්‍රකීර්ණක චෛතසික නම් වශයෙන් ලියා, ඒවාට ඒ නම ව්‍යවහාර කිරීමේ හේතුව පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(ඊ) විරති චෛතසික පිළිවෙළින් නම් කර ඒවා පිළිබඳ හැඳින්වීම් කරන්න. *(ලකුණු 08 යි)*

## III කොටස

7. පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(අ) "යාවජීවම්පි චේ බාලො - පණ්ඩිතං පයිරුපාසති
න සො ධම්මං විජානාති - දබ්බී සූපරසං යථා"

(ආ) "මධුවා මඤ්ඤති බාලො - යාව පාපං න පච්චති
යදා ච පච්චති පාපං - අථ බාලො දුක්ඛං නිගච්ඡති"

(ඉ) "ඉමිනා පුඤ්ඤකම්මෙන - මා මෙ බාල සමාගමො
සතං සමාගමො හොතු - යාව නිබ්බාණ පත්තියා"

(ඊ) "ආකාසට්ඨා ච භුම්මට්ඨා - දෙවානාගා මහිද්ධිකා
පුඤ්ඤං තං අනුමොදිත්වා - චිරං රක්ඛන්තු සාසනං"

(උ) "කායෙන වාචා චිත්තෙන - පමාදෙන මයා කතං
අච්චයං ඛම මෙ භන්තෙ - භූරි පඤ්ඤ තථාගත"

*(ලකුණු 04 × 5 = 20 යි)*

8. පහත දැක්වෙන පාලි වාක්‍ය සිංහලට නගන්න.

(අ) තං සුත්වා රාජා තුට්ඨො තෙසං සක්කාරං කාරෙසි.

(ආ) තං සුත්වා තෙ කොට්ඨාසද්වයං අමතං විය පරිභුඤ්ජිංසු.

(ඉ) "භන්තෙ, ඉතො චුතො, කත්ථ උප්පජ්ජිතුං ඉච්ඡසී" ති.

(ඊ) තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං.

(උ) අත්තමනා තෙ භික්ඛූ භගවතො භාසිතං අභිනන්දුන්ති.

*(ලකුණු 04 × 5 = 20 යි)*

* * *